නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

11 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

බුද්ධ ධර්මය I, II
பௌத்தம் I, II
Buddhism I, II

## බුද්ධ ධර්මය II

* **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළු ව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවැනි ප්‍රශ්නයට ලකුණු **20** ක් ද තෝරා ගන්නා අනෙක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

1. (i) "මෙවන් පුතකු ලද මවක් පියෙක් නිවුණෝ වෙති" ආදී වශයෙන් නිබ්බුත පද පවසනු ලැබුවේ කවුරුන් විසින් ද?
 (ii) "ඉමස්මිං සති ඉදං හොති, ඉමස්මිං අසති ඉදං න හොති" මෙම පාඨයේ අදහස ලියන්න.
 (iii) සතර අගති නම් කරන්න.
 (iv) "දානංච ධම්මචරියා ච - ඤාතකානඤ්ච සංගහෝ" යන මෙම ගාථාවේ දැක්වෙන මඟුල් කරුණු **දෙකක්** ලියන්න.
 (v) බුදු දහමේ උගන්වන 'අණන සුඛය' යන්න කෙටියෙන් පැහැදිලි කරන්න.
 (vi) බුදු දහමේ දැක්වෙන සිරිත් හා විරිත් යන්නෙහි අදහස පැහැදිලි කරන්න.
 (vii) බුදුරජාණන් වහන්සේ වජ්ජි රජදරුවන්ට හඳුන්වා දුන් රාජ්‍ය පාලන ප්‍රතිපත්තිය කුමක් ද?
 (viii) බුද්ධ ප්‍රතිමා ප්‍රධාන වශයෙන් වර්ග තුනකට බෙදා දක්වනු ලැබේ. ඉන් **දෙකක්** ලියන්න.
 (ix) පොළොන්නරු සාහිත්‍ය යුගයේ දී බුදුරජාණන් වහන්සේගේ පුරිස දම්ම සාරථී ගුණය පාදක කොට රචනා කළ ගද්‍ය කෘතිය හා එහි කතුවරයා නම් කරන්න.
 (x) එංගලන්තයේ පාලි පොත් සමාගම (Pali Text Society) ආරම්භ කරනු ලැබුවේ කවුරුන් විසින් ද?

2. (i) සිඟාලෝවාද සූත්‍රයේ දී නැගෙනහිර හා දකුණු දිසාවන්ට උපමා කරනු ලැබුවෝ කවරහු ද?
 (ii) ඉහත (i) හි දැක්වූ එක් සමාජ කණ්ඩායමකින් ඔබට ඉටු විය යුතු යුතුකම් **තුනක්** දක්වන්න.
 (iii) "අන්‍යෝන්‍ය වශයෙන් යුතුකම් ඉටු කිරීමෙන් සමස්ත සමාජයේම දියුණුව සිදු වේ." මෙය සාකච්ඡා කරන්න.

3. (i) පුද්ගලයාගේ කීර්තිය (යසස) වැඩීමට ඉවහල් වන කරුණු අවධාරණය කරමින් දේශනා කළ ධම්මපද ගාථාව ලියන්න.
 (ii) ඉහත (i)හි සඳහන් ගාථාවේ අදහස ලියන්න.
 (iii) "ධම්ම පදය සමස්ත මානව වර්ගයාටම පරිහරණය කළ හැකි වටිනා උපදෙස් ඇතුළත් ග්‍රන්ථයක් ලෙස සැලකිය හැකි ය." විමසන්න.

4. (i) "විපාක දෙන කාලය අනුව කර්මයේ ප්‍රභේද හතරක් වේ. ඉන් **දෙකක්** දක්වන්න.
 (ii) "චේතනාහං භික්ඛවෙ කම්මං වදාමි" මේ පාඨය ඇසුරෙන් කර්මය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම පහදන්න.
 (iii) කුසලාකුසල කර්ම පිළිබඳ අවබෝධය මෙලොව පරලොව ජීවිත සාර්ථක කර ගැනීමට ඉවහල් වන අයුරු පැහැදිලි කරන්න.

5. (i) ව්‍යග්ඝපජ්ජ සූත්‍රයේ දැක්වෙන පුද්ගලයාගේ මෙලොව හිතසුව පිණිස පවතින කරුණු **දෙකක්** දක්වන්න.
 (ii) ඉහත (i) හි දැක්වූ කරුණුවලින් එක් කරුණක් පැහැදිලි කරන්න.
 (iii) එකී කරුණු ලෞකික ජීවිතය සාර්ථක කර ගැනීම සඳහා හේතු වන අයුරු පැහැදිලි කරන්න.

[හයවැනි පිටුව බලන්න.

6. (i) තෙවැනි ධර්ම සංගායනාව පැවැත්වීමට ඉවහල් වූ කරුණු කෙටියෙන් පහදන්න.

(ii) එම සංගායනාව පැවැත්වූ ස්ථානය, රාජානුග්‍රහය ලබාදුන් පාලකයා හා මූලිකත්වය ගෙන ක්‍රියා කළ මහරහතන් වහන්සේ නම් කරන්න.

(iii) "බුදු දහමේ දේශාන්තර ව්‍යාප්තිය සිදු වූයේ තෙවැනි ධර්ම සංගායනාවේ ප්‍රතිඵලයක් ලෙස ය." පැහැදිලි කරන්න.

7. පහත සඳහන් මාතෘකා අතුරෙන් **දෙකකට** පමණක් කෙටි සටහන් ලියන්න.

(i) වැලිවිට සරණංකර මාහිමි

(ii) සතර සංග්‍රහ වස්තු

(iii) මාතලේ අලුවිහාර සංගායනාව

(iv) සඳකඩපහණ

* * *